# 2556 - බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2011(2012)

## (05) බෞද්ධ සමාජ දර්ශනය

**S 5**

(ප්‍රශ්න හතරකට පමණක් පිළිතුරු සපයන්න.)

### II කොටස

2. (i) භාරතීය සමාජ ස්තරායනය තුළ පැවැති වර්ණ භේදයට අනුව, "ද්විජ" යන නමින් හඳුන්වනු ලැබූ වර්ණ සංඛ්‍යාව කීයද? ඒවා නම් කරන්න. (ලකුණු 04 යි)
(ii) ආර්ථික අසමානතා නිසා සමාජයක ඇතිවිය හැකි ස්තර නම් කරන්න. (ලකුණු 07 යි)
(iii) "වරප්‍රසාද හා ලාභ ප්‍රයෝජන ලැබීම අරමුණු කරගත් විවිධ සමාජ ස්තර සම අයිතිවාසිකම් භුක්ති විඳීමේ අයිතියට බාධා පමුණුවයි." යන ප්‍රකාශය පරීක්ෂාවට ලක් කරන්න. (ලකුණු 07 යි)

3. (i) යහපත් භාර්යාවන් **සිව්දෙනා** නම් කරන්න. (ලකුණු 04 යි)
(ii) විවාහක බෞද්ධ ගිහියා දෙවියන්ගේ වැඳුමට තිසිවන්නේ කවර ලක්ෂණ සම්පූර්ණ කළ විටදැ'යි පැහැදිලි කරන්න. (ලකුණු 07 යි)
(iii) ගෘහස්ථ සංස්කෘතියෙහි අංගයක් වන විවාහ ජීවිතය සාර්ථක කර ගැනීමට බුදු දහම සපයන උපදෙස් පැහැදිලි කරන්න. (ලකුණු 07 යි)

4. (i) සතර බඹ විහරණ නම් කරන්න. (ලකුණු 04 යි)
(ii) ස්වභාව ධර්මයේ සමතුලිත බව බිඳවැටීමට හේතු වන කරුණු **තුනක්** නම් කරන්න. (ලකුණු 07 යි)
(iii) "ජීව අජීව පරිසරය හේතුඵල සම්බන්ධතාවෙන් යුතු සමුච්චයක් නිසා පරිසර සංරක්ෂණය සඳහා සමතුලිත අන්තර් ක්‍රියාදාමයක් පවත්වා ගත යුතුය" යන ප්‍රකාශය තහවුරු කරන්න. (ලකුණු 07 යි)

5. (i) 'ජයං වෙරං පසවති' යන ගාථාව සම්පූර්ණ කර ලියන්න. (ලකුණු 04 යි)
(ii) සාමය සඳහා පදනම් වන මානසික ස්වභාවය වර්ධනය කිරීමට උපකාර වන භාවනා **දෙකක්** නම් කරන්න. (ලකුණු 07 යි)
(iii) යුද්ධයෙන් තොරව සාමයෙන් සැනසෙන ලොවක් තැනීමට බුදුසමයෙන් ලැබෙන උපදෙස් පැහැදිලි කරන්න. (ලකුණු 07 යි)

6. (i) සදිසාවට සම්බන්ධ කර ඇති පුද්ගලයන් නම් කරන්න. (ලකුණු 04 යි)
(ii) මිතුරකු විසින් තම මිතුරාට කළ යුතු සංග්‍රහ සහ ඔහුගෙන් එසේ සංග්‍රහ කරන මිතුරාට ඉටුවිය යුතුකම් නම් කරන්න. (ලකුණු 07 යි)
(iii) මනා සමාජ පැවැත්මක් සඳහා සදිසා නමස්කාරය උපකාර කරගත හැකි ආකාරය පැහැදිලි කරන්න. (ලකුණු 07 යි)

7. (i) දශරාජ ධර්මය නම් කරන්න. (ලකුණු 04 යි)
(ii) රාජ්‍යත්වය පිළිබඳ බෞද්ධ සංකල්පය හා බ්‍රාහ්මණික සංකල්පය අතර ඇති අසමානතා **හතරක්** නම් කරන්න. (ලකුණු 07 යි)
(iii) මනා රාජ්‍ය පාලනයක් පවත්වා ගැනීමට බුදුසමය සපයන උපදෙස් විස්තර කරන්න. (ලකුණු 07 යි)

8. (i) 'එකෙන භොගෙ භුඤ්ජෙය්‍ය' යන ගාථාව සම්පූර්ණ කරන්න. (ලකුණු 04 යි)
(ii) බුදුරදුන්ගේ ආර්ථික උපදෙස් විමසූ දීඝජානු කෝලිය පුත්‍රයාට දෙසන ලද සූත්‍ර දේශනාව කවරේදැයි සඳහන් කර එහි ඇතුළත් මූලික කරුණු නම් කරන්න. (ලකුණු 07 යි)
(iii) 'ශ්‍රම අභිමානය රැකගනිමින් වැඩ කිරීමට උපදෙස් දෙන බුදු දහම දැහැමි ආර්ථික ප්‍රතිපත්ති සමුදායක් ඉදිරිපත් කරයි.' යන ප්‍රකාශය තහවුරු කරන්න. (ලකුණු 07 යි)

9. (i) ආර්ථික දියුණුවට උපකාර වන සම්ප්‍රදය **හතර** නම් කරන්න. (ලකුණු 04 යි)
(ii) ආරක්ඛ සම්පදාව කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 07 යි)
(iii) දැහැමි තුලනාත්මක තෘප්තිමත් ආර්ථිකයක් පවත්වා ගැනීමට බුදුසමය දෙන උපදෙස් විස්තර කරන්න. (ලකුණු 07 යි)

***

Scanned by CamScanner